





# ප්‍රියයන්ගෙන් වෙන් වීමේ දුක



කෙටි කාලෙකට එක්වූ නෑ හිතවත්තු
හිටි හැටියේම වෙන් වී ගිනි දෙයි පත්තු
ගැටි ගැටී ඇලී ඇලී යන හැම ලෝ සත්තු
හැටි මෙහෙමයි සැමට සසරෙහි බැඳ ගත්තු

එක් සතෙකුගේ නෑ හිතවත් නොවූ අයෙක්
දක්නට නොමැත හෙව්වත් තුන් ලොවේ නොයෙක්
අක්කා නගෝ අම්මා හෝ වෙලා පියෙක්
රැක්කා එදා නැත අද එය දන්න අයෙක්



අම්මාවරුන් වෙනුවෙන් හෙළු කඳුළු ගොඩ
නිම්මා නොමැත සාගර ජල කඳෙහි ඉඩ
සම්මා සම්බුදුන් දෙසූ මේ දහම් පිඩ
පෙම්මා සිත අරන් කර ගනු සෙතට වැඩ



ශෝක වෙමින් හෙළු මහ කඳුලැලි ගංගා
නේක නෑසියන් වෙනුවෙන් පැන නංගා
ඒක නොපෙනුනත් මස් ඇසකට හංගා
දාක හිවන් දුටු දුක් කඳ වෙයි හංගා

පබැඳුම - නිහිඳු චන්දන සිරිවර්ධන

නිහිඳු චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල විහාර පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී